ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2559 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2015(2016) S2

## (02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් තුනකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) හේතු-ඵල සිද්ධාන්තය මුල් කර ගනිමින් ප්‍රථමයෙන්ම ධර්මය ඇසූ පිරිවැජියන් දෙදෙනා නම් කරන්න. (ලකුණු 02 යි)
   (ii) අවිද්‍යාව නිසා රැස් කරන කර්ම ප්‍රභේද දෙක දක්වා, වේදනාව මුල් කරගෙන උපදින ප්‍රත්‍යය ධර්මය නම් කරන්න. (ලකුණු 04 යි)
   (iii) ශාස්වත වාදයේ හා උච්ඡේද වාදයෙහි වෙනස දක්වා, මේ දෙකට අයත් නොවන වෙනත් වාද දෙකක් දක්වන්න. (ලකුණු 06 යි)
   (iv) හේතු-ඵල වාදයට අනුකූලව දෙවැදෑරුම් දුක දක්වා, පටිච්චසමුප්පාදය අවබෝධ කර ගැනීමේ ප්‍රධාන පරමාර්ථය කෙටියෙන් පහදන්න. (ලකුණු 08 යි)

2. (i) ආර්ය සත්‍ය දේශනාව ඇතුළත් ප්‍රථම ධර්ම දේශනාවේ නම දක්වා එය ශ්‍රවණය කළ පිරිස කවුරුන්දැයි පෙන්වා දෙන්න. (ලකුණු 02 යි)
   (ii) එම ආර්ය සත්‍යයෙහි ප්‍රභේද සතර සිංහල හා පාලි භාෂා දෙකෙන්ම දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) ප්‍රථම ආර්ය සත්‍යයට ඇතුළත්ව ඇති, සමාජයේ සෑම කෙනෙකුම මුහුණ දෙන ලක්ෂණ හතරක් දක්වා, ඒවා ඇතුළත් දුක්ඛ ප්‍රභේදයේ නම ලියන්න. (ලකුණු 06 යි)
   (iv) පුද්ගලයා හා සම්බන්ධ ආධ්‍යාත්මික වූත් බාහිර වූත් සියල්ලක්ම මොහොතෙන් මොහොත පවත්නා තත්ත්වයෙන් වෙනස්වන ආකාරය කෙසේ දැයි පහදා දෙන්න. (ලකුණු 08 යි)

3. (i) ස්කන්ධ පංචකය නම් කරන්න. (ලකුණු 02 යි)
   (ii) එහි ස්වභාවය කෙටියෙන් දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) ලෝකය හා සත්ත්වයා නිර්මාණය කළැයි සැලකෙන නිර්මාතෘවරුන් දෙදෙනෙකු නම් කර, බුදුසමය නිත්‍ය, අවිනශ්වර කිසිවක් නොපිළිගැනීමේ හේතුව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iv) "ත්‍රිලක්ෂණය පිළිබඳ අවබෝධය දෛනික ජීවිතය සහනයෙන්, සතුටෙන් ගත කිරීමටත් අවසන් වශයෙන් නිවන් අවබෝධයටත් මග පාදා දෙයි." විස්තර කරන්න. (ලකුණු 08 යි)

4. (i) සචේතනිකව කයින්, වචනයෙන්, මනසින් කෙරෙන දේ සඳහා දී ඇති පාලි වචන දක්වන්න. (ලකුණු 02 යි)
   (ii) එම දොරටුවලට අදාළව දොරටු දෙකකින් සිදු කරන කුසල කර්ම දෙක බැගින් හතරක් ලියන්න. (ලකුණු 04 යි)
   (iii) කර්ම නියාමය හැර අනෙක් නියාම ධර්ම දක්වා, එමගින් ප්‍රකටවන බෞද්ධ ඉගැන්වීම පහදා දෙන්න. (ලකුණු 06 යි)
   (iv) තුන් දොරටුව සංවර කර ගැනීමෙන් සිදුවන යහපත පුද්ගල සංවර්ධනය සඳහා හේතුවන අයුරු විස්තර කරන්න. (ලකුණු 08 යි)

[ දෙවන පිටුව බලන්න

## II කොටස

5. (i) චිත්ත සමාධිය හා ප්‍රඥාව ඇති කරගන්නා භාවනාවක් නම් කරන්න. (ලකුණු 02 යි)
(ii) එම භාවනා කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 04 යි)
(iii) කර්මස්ථාන යනු කවරේදැයි හඳුන්වා ආනාපාන සතිය කර්මස්ථානයක් වන්නේ කවරහෙයින් දැයි දක්වන්න. (ලකුණු 06 යි)
(iv) ඔබ කැමති භාවනාවක් මගින් නොසන්සුන් මනසක් සන්සුන් කර ගන්නා ආකාරය පහදා දෙන්න. (ලකුණු 08 යි)

6. (i) සිත භූමි වශයෙන් සතර වැදෑරුම් වෙයි. ඒ සතර නම් කරන්න. (ලකුණු 02 යි)
(ii) ඒවාට අදාළ සිත් සංඛ්‍යාව වෙන් වෙන් වශයෙන් ලියන්න. (ලකුණු 04 යි)
(iii) අසංඛාරික, සසංඛාරික, අහේතුක යන මේ සිත් කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)
(iv) අහේතුක සිත්වලට අයත් ක්‍රියා සිත් තුන දක්වා ඒවායින් නික්ලේශී උතුමන්ට පහළවන ක්‍රියා සිත නම් කරන්න. (ලකුණු 08 යි)

## III කොටස

7. පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(i) "මුහුත්තමපි චේ විඤ්ඤූ - පණ්ඩිතං පයිරුපාසති
බිප්පං ධම්මං විජානාති - ජිව්හා සූපරසං යථා"

(ii) "බහුම්පි චෙ සහිතං භාසමානෝ - නතක්කරෝ හෝති නරෝ පමත්තෝ
ගෝපෝව ගාවෝ ගණයං පරේසං - න භාගවා සාමඤ්ඤස්ස හෝති"

(iii) "පූජකො ලභතෙ පූජං - වන්දකෝ පටිවන්දනං
යසෝ කිත්තිඤ්ච පප්පොති - යෝ මිත්තානං න දූහති"

(iv) "අග්ගි යථා පජ්ජලති - දේවතාව විරෝචති
සිරියා අජහිතෝ හෝති - යෝ මිත්තානං න දූහති"

(v) "ගාවෝ තස්ස පජායන්ති - ඛෙත්තේ වුත්ථං විරූහති
පුත්තානං ඵලමස්නාති - යෝ මිත්තානං න දූහති"

(ලකුණු 04 x 5 = 20 යි)

8. පහත දැක්වෙන පාලි වාක්‍ය සිංහලට නගන්න.
(i) ඉධ භන්තෙ සාවත්ථියං අඤ්ඤතරෝ භික්ඛු අහිනා දට්ඨො කාලකතො'ති.
(ii) ථෙරෝ ධම්මං දෙසෙන්තෝ ඉදං වෝ මහන්තං ඉස්සරියං පුබ්බේකත පුඤ්ඤේන ලද්ධං ඉති ආහ.
(iii) තතෝ කුමාරෝ පලායිත්වා විහාරං පවිසිත්වා මහාථේරස්ස හෙට්ඨා මඤ්චේ නිපජ්ජි.
(iv) භගවා-කිර බෝධිතෝ නවමේ මාසේ ඉදං දීප'මාගන්ත්වා ධම්මං දේසේසි.
(v) රාජා ථෙරෙ වන්දිත්වා ආසනෙ නිසීදාපෙත්වා ආගත කාරණං පුච්ඡි. තෙ ආගත කාරණං කථෙසුං.

(ලකුණු 04 x 5 = 20 යි)

***